07406



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2556 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2012(2013)

S 4

## (04) බෞද්ධ සංස්කෘතිය

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **හතරකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න **එකක්** වත් ඇතුළත් වන සේ තෝරා ගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

---

### I කොටස

1. (අ) සීලයෙහි පදනම වන හිරි-ඔත්තප්ප දෙකෙහි පවත්නා වැදගත්කම පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ආ) පුද්ගල ප්‍රභේදතා අනුව ගිහි-පැවිදි දෙපක්ෂයට අයත් සීලය බෙදා දක්වන්න. *(ලකුණු 06 යි)*

(ඉ) නිර්වාණාවබෝධය උදෙසා සීලය පදනම වන ආකාරය ආර්යාෂ්ටාංගික මාර්ගයේ ඉගැන්වීම් ආශ්‍රයෙන් තහවුරු කරන්න. *(ලකුණු 08 යි)*

2. (අ) සෑම ප්‍රව්‍රජ්‍යාපේක්ෂකයකු විසින්ම පැවිදි ජීවිතයට ඇතුළත් වීමට පෙර සම්පූර්ණ කළ යුතු අවශ්‍යතා හා සුදුසුකම් මොනවා දැයි හඳුන්වන්න. *(ලකුණු 06 යි)*

(ආ) කුලදරුවකු පැවිදි කිරීමේ දී අනුගමනය කෙරෙන චාරිත්‍ර විධි පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ඉ) සාමණේර දස සීලය හඳුන්වා එමගින් සාමණේර ජීවිතයෙහි ඉස්මතු වී පෙනෙන විශේෂතා විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

3. (අ) භික්ෂූන් වහන්සේගේ සිවුරු කට්ටලයට අයත් තුන්සිවුර නම් කොට සිවුර හැදීම හා පෙරවීම ආශ්‍රිතව පවත්නා සේඛියා ශික්ෂාපද හඳුන්වන්න. *(ලකුණු 06 යි)*

(ආ) සිවුරු පරිභෝගයට අදාළ ප්‍රත්‍යවේක්ෂා කිරීම හඳුන්වා මෙමගින් භික්ෂු ජීවිතයට සැලසෙන යහපත දක්වන්න. *(ලකුණු 06 යි)*

(ඉ) ගිහියන් විවිධ අවස්ථාවලට යෝග්‍ය ආකාරයෙන් ඇඳුම් භාවිත කළ යුතු ආකාරය පිළිබඳ විග්‍රහයක් කරන්න. *(ලකුණු 08 යි)*

### II කොටස

4. (අ) බුදුරජාණන් වහන්සේගේ ජීවමාන කාලයෙහි පවා ලක්දිව චෛත්‍ය පැවති බවට දැක්විය හැකි සාධක විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

(ආ) චේතිය හෙවත් චෛත්‍ය හා දාගැබ් යන ව්‍යවහාරයන්හි ආරම්භය හා ව්‍යාප්තිය පිළිබඳ විමසීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(ඉ) දාගැබක දක්නට ලැබෙන ප්‍රධාන අංග පිළිබඳ විශ්ලේෂණයක් කරන්න. *(ලකුණු 08 යි)*

5. (අ) පටිමා ඝර යනු කවරේ ද? ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන පටිමා ඝර **දෙකක්** ගැන විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(ආ) වැම් පිට තැනූ පිළිම ගෙවල්වල ආරම්භය හඳුන්වා ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන එබඳු පිළිම ගෙවල් **දෙකක්** ගැන තොරතුරු සපයන්න. *(ලකුණු 06 යි)*

(ඉ) ආසන ඝර යනු කවරේ දැයි හඳුන්වා ශ්‍රී ලංකාවේ පිහිටි ආසන ඝර **දෙකක්** ගැන විස්තර සපයන්න. *(ලකුණු 08 යි)*

[ 2 වන පිටුව බලන්න.

## III කොටස

6. (අ) සද්ධර්ම රත්නාවලී කතුවරයා දේශීය උපමා භාවිත කරමින් උපහාසාත්මකව කතා ඉදිරිපත් කළ ආකාරය පිළිබඳ කෙටි විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

(ආ) බුත්සරණ, දහම්සරණ හා සඟසරණ යන ගද්‍ය කෘතිවල කර්තෘත්වය හා වස්තු විෂය ගැන වෙන වෙනම හඳුන්වන්න. (ලකුණු 06 යි)

(ඉ) පූජාවලියේ කතුවරයා, කෘතියේ අරමුණ හා වස්තු විෂය පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 08 යි)

7. (අ) සිංහලයේ වංසකථා සාහිත්‍යය ගැන හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)

(ආ) සිංහලයේ පැරණි ගී කාව්‍ය **දෙකක්** නම් කොට ඒවායේ වස්තු විෂයයන් හඳුන්වන්න. (ලකුණු 06 යි)

(ඉ) බුත්සරණය කාව්‍ය ග්‍රන්ථය හඳුන්වා එය පොදු ජනතාව අතර ජනප්‍රිය වීමට හේතු වූ කරුණු දක්වන්න. (ලකුණු 08 යි)

## IV කොටස

8. (අ) පොලොන්නරු යුගයේ දී ශ්‍රී ලංකාව හා මියන්මාරය (බුරුමය) අතර ශාසනික සම්බන්ධතා ඇති වූ අවස්ථා දෙකක් හඳුන්වන්න. (ලකුණු 06

(ආ) ශ්‍රී ලංකා හා මියන්මාර් ශාසන ඉතිහාසයේ වැදගත් තැනක් "ඡප්පට" හිමියන්ට අයත් වීමට තුඩු දුන් හේතු සාධක පැහැදිලි කරන්න. (ලකුණු 06

(ඉ) මියන්මාරයේ ධම්මචේතිය රාජ්‍ය සමයෙහි (15 සියවස) ඇති වූ ශාසනික නවෝදය පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 08

9. (අ) තායිලන්තයේ ඇති වූ "සීහල සංඝ නිකාය" ගැන විස්තරයක් කරන්න. (ලකුණු

(ආ) චීනයේ භික්ෂුණී ශාසනය කෙසේ ඇති වී දැයි පැහැදිලි කරන්න. (ලකුණු

(ඉ) ජපානයේ පවත්නා තිච්රෙන් බෞද්ධ නිකායයේ ආරම්භය හා ව්‍යාප්තිය ගැන විමර්ශනයක් කරන්න. (ලකුණු 08

* * *